7408



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## 2556 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2012(2013)




## (02) බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය




මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් **එක්** ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (අ) විපාක දෙන කාල අනුව කර්මය සතර වැදෑරුම් වේ. ඒ **සතර** නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) ඒවා කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) වචී කර්ම ගණයට ඇතුළත් කොට ඇති ක්‍රියා නම් කර, ඒවායේ ස්වභාවය පහදා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) සමාජයේ අන්‍යෝන්‍ය සමගිය හා විශ්වාසය බිඳ වැටීමට මෙම වචී අකුසල කර්ම හේතුවන අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

2. (අ) ත්‍රිලක්ෂණය නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) එම ත්‍රිලක්ෂණයේ දී සියලු ධර්මයන් බෙදෙන කොටස් **දෙක** නම් කර ඒවා කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) "සියලු සංස්කාර ධර්මයෝ අනිත්‍යයහ" පහදන්න. (ලකුණු 06 යි)
   (ඊ) ත්‍රිලක්ෂණය භාවනාවක් වන අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

3. (අ) ආර්ය සත්‍ය **සතර** දක්වන්න. (ලකුණු 02 යි)
   (ආ) තෘෂ්ණාව ඇතුළත් සත්‍ය නම් කර, එහි ත්‍රිවිධ ප්‍රභේද ලියන්න. (ලකුණු 04 යි)
   (ඉ) එම ප්‍රභේද කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)
   (ඊ) ධර්මානුකූලව සිතීමෙන් තෘෂ්ණාව පාලනය කර ගත හැකි ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

4. (අ) බෞද්ධ විමුක්ති ධර්මය (නිවන) හැඳින්වීමට යොදා ඇති වෙනත් වචන **දෙකක්** දක්වන්න. (ලකුණු 02 යි)
   (ආ) නිර්වාණගාමී මාර්ගය පියවර හතරකින් යුක්තය. එම පියවර **හතර** නම් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) එම පියවරයන්ට අනුකූලව දස සංයෝජන ධර්ම දුරු කරන ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) "නිවන අවබෝධ කළ උතුමා කුසල් හෝ අකුසල් නො කරයි. එහෙත් කුසල අකුසල කර්මයන්හි විපාක විඳී." රහතන් වහන්සේලා දෙනමක් ඇසුරු කර ගනිමින් මෙය පහදන්න. (ලකුණු 08 යි)

### II කොටස

5. (අ) සමථ භාවනාව සඳහා අරමුණු වශයෙන් යොදා ගන්නා කර්මස්ථාන සංඛ්‍යාව දක්වන්න. (ලකුණු 02 යි)
   (ආ) එම කර්මස්ථාන ප්‍රභේද වශයෙන් ලියා දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) මෙම භාවනාවෙන් ලද හැකි උසස් ප්‍රතිඵල දක්වා, එම උසස් ප්‍රතිඵල ලද සෑම්වරුන් **දෙදෙනෙකු** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) විනය ගරුක සමාජයක් ගොඩ නැංවීම උදෙසා මානසික සංවරයේ ඇති වැදගත්කම පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

6. (අ) චෛතසිකයන්ගේ ප්‍රධාන ලක්ෂණ **හතර** ලියන්න. (ලකුණු 02 යි)
   (ආ) චෛතසික සංඛ්‍යාව කොතෙක් ද? ඒවා බෙදා දක්වා ඇති ප්‍රධාන කොටස් **තුන** දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) බොහෝ සිත්වල සුදුසු පරිදි පවත්නා චෛතසික හඳුන්වා දී ඇත්තේ කවර නමකින්දැයි පෙන්වා එයට අයත් චෛතසික **හතරක්** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) විරති චෛතසික අයත් වන්නේ කවර චෛතසික කොටසකටදැයි දක්වා, එම විරති නම් කොට ඒවා කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

## III කොටස

7. පහත සඳහන් පාලි ගාථා සිංහලට නගන්න.

(අ) "වන්දමි චේතියං සබ්බං - සබ්බඨානෙසු පතිට්ඨිතං
සාරීරිකධාතු මහා බෝධිං - බුද්ධ රූපං සකලං සදා"

(ආ) "කායෙන වාචා චිත්තෙන - පමාදෙන මයා කතං
අච්චයං ඛම මෙ භන්තෙ - භූරිපඤ්ඤ තථාගත"

(ඉ) "ඉමිනා පුඤ්ඤකම්මෙන - මා මෙ බාලසමාගමො
සතං සමාගමො හොතු - යාව නිබ්බාණ පත්තියා"

(ඊ) "අපාදකෙහි මේ මෙත්තං - මෙත්තං දිපාදකෙහි මේ
චතුප්පදෙහි මේ මෙත්තං - මෙත්තං බහුප්පදෙහි මේ"

(උ) "මා මං අපාදකො හිංසි - මා මං හිංසි දිපාදකො
මා මං චතුප්පදො හිංසි - මා මං හිංසි බහුප්පදො"

(ලකුණු 04 X 5 = 20 යි)

8. පහත දැක්වෙන පාලි ඡේද සිංහලට නගන්න.

(අ) තතො කුමාරො පලායිත්වා විහාරං පවිසිත්වා මහාථෙරස්ස හෙට්ඨා මඤ්චෙ නිපජ්ජි. තස්මිං ඛණේ ථෙරො යථා හෙට්ඨා මඤ්චං න පඤ්ඤායති එවං චීවරං මඤ්චකෙ පත්ථරි. තතො රාජ කුමාරස්ස අනුපදෙන රාජා ආගන්ත්වා පරිවේණං පවිසිත්වා කුහිං තිස්සොති පුච්ඡි. ථෙරෝ මහාරාජ, නත්ථි මඤ්චේ'ති ආහ.

(ලකුණු 10 යි)

(ආ) තං සුත්වා රාජා තුට්ඨො තෙසං සක්කාරං කාරෙසි. අථ රාජා තස්ස පටිසන්ධිතො දසෙකද්ධමාසෙ අතික්කන්තෙ එකදිවසං විහාරං ගන්ත්වා භික්ඛූ වන්දන්තො පූජෙන්තො ගිලානානං භික්ඛූනං චතුපච්චයෙහි උපට්ඨහන්තො චරති.

(ලකුණු 10 යි)

* * *